FACT CRESCENDO

The Fact Behind Every News!
Verified signatory of the IFCN code of principles



# ජනපතිගේ සමාජ ජාලා සටහන්වල ස්ක්‍රීන් සොට්ස් ලෙස පළවන සංස්කරණය කරන ලද සටහන්

Misleading | Political

February 9, 2025 | Fact Crescendo Team | Leave A Comment



**දිනපතා සත්‍ය කරුණු දැන ගැනීමට අපගේ WhatsApp චැනලයටමෙතනින් එකතුවන්න.**

සමාජ මාධ්‍ය ඔස්සේ පළ කරන සටහන් වලින් ජනතාව නොමග යන අයුරින් කටයුතු කිරීමට හැකි වන අතර ඇතැම් අවස්ථා වලදී පළ නොකරන ලද සටහන් පළ කර බව ට දක්විමන් අසත්‍ය තොරතුරුද සමාජ ගත කිරීම ද, සිදු කරනු ලබනවා. එලෙසින් පළ වූ සටහන් පිළිබඳ අප සිදු කළ කරුණු පැහැදිලි කිරීමක් පහතින්.

**සමාජ ජාලා සටහන්**

ජනපති අනුර කුමාර දිසානායක විසින් අශ්ලීල බසින් සිය දෙමළ මාධ්‍ය සමාජ ජාලා පිටුව ඔස්සේ හිටපු පාර්ලිමේන්තු මන්ත්‍රිනී සීතා අරඹේපොල ඇමතු බවට සමාජ ජාලා සටහන් හුවමාරු වුනේ පහත අයුරින්.







FOLLOW US



FACT CHECKS | COMMENTS

ජනපතිගේ සමාජ ජාලා සටහන්වල ස්ක්‍රීන් සොට්ස් ලෙස පළවන සංස්කරණය කරන ලද සටහන්
February 9, 2025 Fact Crescendo Team

ලුණු මිල පිලිබදව පැතිරෙන නොමගයවන සුළු සමාජ ජාලා සටහන්
February 8, 2025 Kalana Krishantha

Seismic Waves CARD ගොනුව විවෘත කිරීමෙන් ඔබේ දුරකතනය හැක් වෙනවා ද?
February 6, 2025 Piumika Lakshani

යොහානි 'ධනුට කියන්න' වැඩසටහනේදී විශ්මයජනක ප්‍රතිලාභ හිමි වන ආදායම් මාර්ගයක් ගැන හෙළි කරයි?
February 6, 2025 Pavithra Sandamali



FB | Archived

සිතා අරඹේපොල හිටපු මන්ත්‍රීවරිය සිය නිවෙස අරගලකරුවන් විසින් ගිනි තැබීමෙන් අනතුරුව මිලියන 13.7 ක් හෙවත් ලක්ෂ 137 ක වන්දි මුදල් රජයෙන් ලබාගත් බවට ඇමති නලින්ද ජයතිස්ස පසුගියදා පාර්ලිමේන්තුවේදී හෙලිකල නම් ලේඛනයේ සඳහන් .ඒ පිළිබද පුවතක් මෙතනින්.

ඒ කෙසේ වෙතත් ජනාධිපතිවරගේ නිල සමාජ ජාලා ගිණුම්වල මෙලෙස අස්ලීල බසින් සාමාන්‍යයෙන් විවේචන සිදු නොකරන නිසා මේ  පිලිබදව කරුණු විමසා බැලීමක් සිදු කිරීමට අප තීරණය කළා.

**Fact Check ( සත්‍ය කරුණු විමසා බැලීම )**

අප මුලින්ම සිදුකලේ ජනාධිපතිවරයාගේ දෙමළ  නිල ෆේස්බුක් ගිණුම පරික්ෂා කිරීමයි.නමුත් එවැනි සටහන් දැකගැනීමට හැකිවුණේ නැහැ. එම ගිණුමට පිවිසිය හැකියි මෙතනින්

ඉන්පසුව අප ජනාධිපති මාධ්‍ය අංශයෙන් විමසා බැලුවා .ඔවුන් පැවසුවේ මෙවන් සදහනක් ජනාධිපතිවරයාගේ නිල ෆේස්බුක් පිටුවේ පලනොකල අතර ෆොටෝ සොප් තාක්ෂණය යොදා ගනිමින් නිර්මාණය කල මෙවන් සටහන් ෆේස්බුක් හරහා හුවමාරු වන බවයි.

ඒ ආකාරයෙන් පලකල සටහන් ඔවුන් අප සමග බෙදාගත්තේ මෙලෙසින්.



සමාජ ජාලාවල බහුලව පැතිරෙන ස්ක්‍රීන් සොට් එක අප Error Level Analaysis වලට ලක්කළ අතර එහිදී අපට දැකගන්නට ලැබුණේ මෙහි ඉහලින් ඇති අශ්ලීල බසින් ලියවුනු කොටස පැහැදිලි ලෙසම ඩිජිටල් සංස්කරණයක් බවයි.

මිට පෙර ද මෙවැනි සිද්ධියක් අරභයා පලවූ සමාජ ජාලා සටහනක් සම්බන්ධයෙන් පලකල කරුණු විමසා බැලීමක් පහතින්.

Read also :  "සජිත් ජනපති – පාඨලී අගමැති" ලෙසින් පාඨලීගේ මාධ්‍ය ලේකම්ගෙන් ෆේස්බුක් සටහනක්?

**අපගේ කරුණු විමර්ෂණ පිළිබඳ තොරතුරු දැන ගැනීමට එක්වන්න.**

**Facebook | Twitter | Instagram | Google News | TikTok**

**නිගමනය (Conclusion)**

අප විසින් සිදු කරන ලද කරුණු විමසීම්වලින් තහවුරු වන්නේ ජනාධිපතිවරයාගේ නිල සමාජ මාධ්‍ය ගිණුම්වලින් පළකල පෝස්ට් ආකාරයෙන් අශ්ලීල බසින් පළවන ස්ක්‍රීන් ෂොට් සහිත  සමාජ ජාලා සටහන් වල අදාල අශ්ලීල බසින් හුවමාරුවන සටහන් පොටෝසොප් වැනි මෘදුකාංග භාවිතයෙන් සංස්කරණය කර නිර්මාණයවූ ඒවා මිස සත්‍ය ඒවා නොවන බවයි.



